
අන්තෝනියෝ ලෙ-
වැන්හුක් (1632-1722)
අණු දක්නය (අණ්වීක්-
ෂය, සූක්ෂම දර්ශකය)
සොයා ගත්තේ ය.
ප්‍රථම වරට ක්ෂුද්‍ර ජීවීන්
අණ්වීක්ෂයෙන් බැලීය.
ගැලීලියෝ ගැලිලි
(1564-1642) වූසු ශ්‍රේ-
ෂ්ඨ ආකාශ වස්තු
විද්‍යාඥයා ය. හිරු ගේ
ලප ද, බෘහස්පති ගේ
අනු ග්‍රහයන් ද සොයා-
ගත් ඔහු සඳෙහි කඳු
සහ වලවල් ද තිබෙන
බව පෙන්වා දුන්නේ ය.

ගියෝර්ගි
යුර්මින්

# සීයාගේ ඇස් කණ්ණාඩි

අනුවාදය - දූදිගම වී. රුද්රිගු
චිත්‍ර - ඉරිනා කසෙලෙව්ස්කායා



රාදුගා ප්‍රකාශකයෝ
මොස්කව්

# සීයා ගේ ඇස් දෙක නැති වූ සැටි

මට සීයා කෙනෙක් ඉන්නවා. එයා ගේ හිසකේ සුදු ම සුදු පාට යි.

"හිස කේ සුදු පාට වුනේ කොහොම ද?" මම සීයා ගෙන් අහනවා.

"බොහොම කාලයක් ජීවත් වුනා ම හිස කේ පැහෙනවා."

සීයා දෙකට නැවීගෙන ඉන්නවා.

"සීයා ගේ පිටි කොන්ද කුදු ගැහුණේ කොහොම ද?"

"බොහොම කාලයක් ජීවත් වුන හන්දා."

අපේ සීයා ගේ ඇස් දෙක බොහොම කරුණාවන්ත යි. ඒවා වටේට රැළි ගොඩක් තියෙනවා. බොහොම කාලයක් ජීවත් වුන නිසා වෙන්නට ඇති. සීයා නිතර ම ඇස් කණ්ණාඩි පැළඳගෙන ඉන්නවා. ඒ කණ්ණාඩිවල රාමුව දිලිසෙනවා.

"සීයාට ඇස් කණ්ණාඩි මොකට ද?" මම ඇහුවා.

රතු තොප්පි කාරිය ගේ කතාව ළමයින් අහලා තියෙනවා නොවැ. ආන්න ඒ කතාවේ වෘකයා වගේ සීයා බැරෑඩි හඬකින් පිළිතුරු දුන්නා:

"මට නුඹව හොඳට බලන්නට ඕන හින්දා! බොහෝ කල් ජීවත් වුන නිසා මගේ ඇස් පෙනීම බොහොම දුර්වල වෙලා."

දවසක් දා සීයා මගෙන් මෙහෙම අහනවා:

"මගේ ඇස් දෙක නැති වෙලා, නුඹ දැක්කේ නැති ද?"

ඇස් දෙක නැති වෙන්නේ කොහොම ද? මම පුදුම වුනා.

සීයා හිනාවෙලා මෙහෙම කියනවා:

"මම කිව්වේ කණ්ණාඩි කුට්ටම ගැන. ඒවා මගේ ඇස් නෙවැ."

මම හැම තැන ම සීයා ගේ කණ්ණාඩි කුට්ටම හොයනවා. මම සොයලා, සොයලා සීයා ගේ මුහුණ දිහා බැලුවා. එයා ඇස් කණ්ණාඩි නළල උඩ පැළඳගෙන තම යි, හැම තැන ම ඒවා හොයන්නේ.

"ඔන්න පේනව නේද. මට සිහි කල්පනාව ත් හිටිය ගමන් නැති වෙන සැටි" සීයා කියනවා.

එක් වරක් කණ්ණාඩි කුට්ටම සැබවින් ම නැති විය. අපි හැම තැන ම එය සෙව්වෙමු. මේසය උඩ ත්, යට ත්, පොත් රාක්කවල ත්, සීයා ගේ මුහුණේ ත් එය නො තිබිණි. ඇස් කණ්ණාඩි කුට්ටම අතුරුදහන් වූවාක් මෙන් විය.

"සීයා දැන් පත්තර කියවන්නේ කොහොම ද?"

"මම ආච්චි ගේ කණ්ණාඩි කුට්ටම ඇඳගන්නම්."

සීයා ආච්චි ගේ ඇස් කණ්ණාඩි කුට්ටම පැළඳගත්ත ද පෙනීම වඩාත් නරක් විය. මොක ද දන්නව ද, මිනිසුන් ගේ ඇස් පෙනීම එකිනෙකට වෙනස් නිසා. එක් එක් කෙනා ගේ පෙනීම අනුව කණ්ණාඩි නියම කරනවා. ආච්චි ගේ ඇස් කණ්ණාඩි කුට්ටම සීයාට කොහෙත් ම ගැළපෙන්නේ නැහැ. ඒ වාගේ ම සීයා ගේ කණ්ණාඩි කුට්ටම ත් ආච්චිට ගැළපෙන්නේ නැහැ.

"ඉතින් සීයා කොහොම ද පත්තර කියවන්නේ?"

"අනේ මුණුපුරෝ, ඉස්සර කාලේ මිනිස්සු කළ දේ මට ත් කිරීමට සිද්ද වෙලා තියෙනවා."

"ඒ මොකක් ද?"

"මෙන්න මේක යි."

සීයා කුඩා දේ ලොකු කර පෙන්වන කාචයක් අරගෙනැ, එය පත්තරය උඩ තියලා කියවන්නට පටන් ගත්තා.

පත්තරේ කුඩා අකුරු කාචයෙන් බලන විට පෙනෙන්නේ ගිනි පෙට්ටියක් තරම් ලොකුවට.

"අපොයි බොහොම අමාරු යි!" වම්

ඇස හකුළුවා ගනිමින් සීයා පැවසුව ද, කාවය පත්තරේ අකුරු ජේලි උඩින් යව-මින් කියවන්නට විය. ''නැතිවුණ කණ්-ණාඩි කුට්ටම ඉක්මණින් හොයා ගන්නට පුළුවන් වුනොත් හොඳ යි!''

සීයා නිසා ම සිතෙහි ලොකු කනගා-ටුවක් උපන්නා. මම සීයා ගේ ඇස් කණ්-ණාඩි කුට්ටම ආයෙමත් හොයන්නට පටන් ගත්තා.

කොහොම හරි හොයා ගන්නට පුළු-වන් වුනා. සීයා කියවපු පොතක පිටු අස්සේ තිබ්ච්ච කණ්ණාඩි කුට්ටම මම හොයා ගත්තා. ''සීයේ, මෙන්න කණ්ණාඩි කුට්ටම!''



# දෙ කන්වලට දමන කොකු

''අනේ මුණුපුරෝ, මා ආයෙමත් කරදරේ වැටිලා. මගේ රෝදවල කොකු කැඩිලා නෙව,'' සීයා කනගාටුවෙන් කිව්වා.

මොන කොකු ද?, මොන රෝද ද? මම පුදුම වුනා. ඔන්න ඊට පසු ව තම යි මට සීයා ගේ තේරවිල්ල මතක් වුනේ:

දෙ කන්වලට කොකු අමුනල,
දෙ . ඇස්වලට රෝද දමල,
රෝද දෙකට එක් දණ්ඩකි,
නහය උඩින් පළඳින්නකි.

තෝරා ගන්නට පුළුවන් ද?

මට එය සැනෙකින් තෝරා ගත හැකි විය. ''ඇස් කණ්ණාඩි කුට්ටම!'' යැයි මම කෑ ගැසීමි.

ඔන්න ඉතින් ඇස් කණ්ණාඩි කුට්ටමේ දෙ කන්වලට දමන කොකු කැඩිලා. සීයාට ඒවා කන්වල දමාගෙන පත්තර බලන්නට බැහැ.

''දැන් ඉතින් මොනවා කරන්න ද?''

''අපි කලබල නො වමු'' යි සීයා මා අස්වසා ලීය. ''අපි මේක අලුත් වැඩියා කරගනිමු. දැනට අපි ඉස්සර කාලේ කළා වගේ කරමු.''

සපත්තුවලට දාන ලේස් පොටවල් දෙකක් ඇරගෙන සීයා ඒවා කොකු වෙනුවට කණ්ණාඩි රාමුවට ගැට ගහලා හිස වටේට බැඳ ගෙනැ පත්තර කියවන්නට පටන් ගත්තා.

''ඉස්සර කාලේ කණ්ණාඩි ඇන්දේ ඔහොම ද?'' මම සීයා ගෙන් ඇහුවා.

''නැහැ. මෙහෙ ම නො වේ. නමුත් මෙයට සමාන යි. ඉස්සර ඇස් කණ්ණාඩි සවි කරලා තිබුණේ හිසේ පළඳින තොප්පියකට යි. ඉතින් ඒ තොප්පිය හිස පැළඳගෙන පත්තරය කියවන්නට ඕන. ඇස් කණ්ණාඩි සවි කරපු හම් පටියක් හිස වටේ බැඳගෙන පත්තර කියවපු අය ත් හිටියා. මේ ක්‍රමය හොයා ගත්තේ රජගෙදර වෙද මහත්තයෙක්. රජ්ජුරුවන් ගේ ඇස් කණ්ණාඩි නිතර, නිතර බිම වැටෙන්නට පටන් ගත්තා. එවිට රජ්ජුරුවන්ට බොහොම කේන්ති ගියා. සම් පටියට අල්ලා මහපු ඇස් කණ්ණාඩි නිසා රජ්ජුරුවෝ බොහොම සතුටු වෙලා රජගෙදර වෙද මහතාට ස්තුති කළා. වෙද මහතා මිය ගිය පසු ඔහු ගේ සොහොනෙහි මෙසේ ලියා තැබීමට රජතුමා අණ කළා: ''මෙතැන සැතපී සිටින්නෙ, ඇස් කණ්ණාඩි සොයාගත් සැල්වීනො අර්මාති. ඔහු ගේ පවුවලට දෙවියන් වහන්සේ සමාව දෙත්වා!''

සීයා මට ඒ කතාව කියා යළිත් පත්තරය කියවන්නට පටන් ගත්තා. ඔහුට වැඩි වේලාවක් පත්තරය කියවන්නට බැරි වුනා. සැල්වීනො අර්මාති සොයාගත් ක්‍රමයට ඇස් කණ්ණාඩි පැළඳ ගෙනැ කියවීම ත් අමාරු වුනා. කණ්ණාඩි හිස වටා බැඳලා තිබුණු පටිය දහ වැනි වරට ත් ලිහිලා වැටුණා ම සීයා ගේ ඉවසීම සිඳුණා.

''අපි ඉක්මණට මේ කණ්ණාඩි කුට්ටම අලුත් වැඩියා කරගන්ට සාප්පුවට යමු. නැතිනම් කාව දෙක ත් බිඳෙන්නට පුළුවනි,'' සීයා කියුවා.

ඔන්න දැන් ආයෙමත් කන් වලට අමුණා ගත හැකි අඬු-කොකු දෙකක් සහිත ඇස් කණ්ණාඩි කුට්ටමක් අපේ සීයාට තියෙනවා. දැන් ඉතින් එය පහළට වැටෙන්නේ නැහැ.

# ඔබට දිගැති නාසයක් කුමට ද ?

ඊයේ මගේ වයස අවුරුදු පහ යි, අද අවුරුදු හයක් වෙලා. හරි ම පුදුමයක්, එක දවසකින් අවුරුද්දකට වැඩිමල් වුනා.

අද මගේ උපන් දවස නිසා තම යි මා එක වරට අවුරුද්දකින් වැඩිමල් වුනේ. අද මට තෑගි බෝග ලැබේ වි.

අම්මා මට ඇල්බම් පොතකු යි, පාට පෙට්ටියකු යි තෑගි කළා. තාත්තා පන්දුවකු යි, බූරතීනො ගැන පොතකු යි තෑගි දුන්නා. සීයා විතරක් තෑගි මිල දී ගත්තේ නැහැ. එයා පෙට්ටම ඇතුළට අත දමා ගෙනැ මොනවදෝ හොයන්නට පටන් ගත්තා.

"මුණුපුරෝ, මෙන්න ඔයාට තෑග්ගක්. මේක හරියට අලුත් ඇස් කණ්ණාඩි වගේ මගේ පොඩ්ඩට සේවය කරා වි."

සීයා එහෙම කියලා මට කුඩා දේ ලොකු කර පෙන්වන, ඈත තියෙන දේ ළං කර පෙන්වන වීනක්කණ්ණාඩියක් ඇති බටයක් තෑගි දුන්නා. එය සීයා ගේ තාත්තා සීයා පුංචි කාලෙදි එයාට තෑගි දීපු වීනක්කණ්ණාඩියක්.

"සීයාට බොහොම ස්තූති යි, සීයා මොකට ද මේකට ඇස් කණ්ණාඩි කියලා කියන්නේ. මේක දුර දක්නයක් නේ ද?"

"ඒක ඇත්ත තම යි. ඕකට වීනක්කණ්ණාඩිය කියල කියන්නේ, ඕකෙන් බැලුවා ම වැඩිය හොඳට පෙනෙන නිසා. හරියට ඇස් කණ්ණාඩි වගේ ම තම යි. තවත් එක දෙයක් ගැන කියන්නම්. ඇස් කණ්ණාඩි නො තිබෙන්නට වීනක්කණ්ණාඩි හොයා ගැනීමට පුළුවන් වන්නේ නැහැ."

සීයා ඊළඟට හොඳ ලස්සන කතාවක් කියුවා.

බොහොම ඉස්සර කාලේ කාච සාදන ශිල්පියෙක් කුඩා දේ ලොකු කර පෙන්වන කාචයකින් මැස්සකු ගේ කකුලක් දිහා බැලුවා. නූල් පොටකට ත් වැඩිය සිහින් කකුල ඔහුට පෙනුණේ මෝල් ගහක් තරම් විශාල වෙලා.

එක කාචයකින් ඔහොම නම් කාච දෙක තුනක් දැම්මොත් කොහොමට හිටී වි ද? තවත් මහා ලොකුවට පෙනේ වි.

ශිල්පියා එහෙම කාච දමා බැලුවා ම තවත් මහා ලොකුවට පෙනුණා.

නමුත් මේ වගේ කාච දෙක තුනක් අතින් අල්ලා ගෙනැ බැලීම පහසු නැහැ. කාච තුනක් දාපු ඇස් කණ්ණාඩි හැඳුවොත් වඩාත් පහසු වේ වි. ඒ වුනාට ඔය තරම් දිග ඇස් කණ්ණාඩි පළඳින්නට නම් බොහොම දිගැති ඇතෙකු ගේ හොඬක් වැනි දිග නහයක් හොයා ගන්නේ කොහෙන් ද?

දිග නහයක් නැතුවාට මේ කාච පළඳින්නේ කොහොම ද?

ඔන්න ඉතින් ශිල්පියා කල්පනා කරලා, කල්පනා කරලා විසඳුමක් හොයා ගත්තා. ඔහු දිගැති බටයක් අරගෙනැ ඒ කාච බටය ඇතුළෙ සවි කළා. නහය උඩ තියෙනවාට ත් වැඩිය හොඳට කාච බටය තුළ සවි වෙලා.

වීනක්කණ්ණාඩිය හෙවත් දුර දක්නය සෑදූ හැටි එසේ ය.

නාවිකයින්ට දුර දක්නය බොහොම තදින් හිතට ඇල්លුවා. ඔවුන් දුර බැහැර රට වලට මුහුදු මගින් යන විට දුර දක්නය අරගෙනැ ගියා. නැවේ සිට මුහුද දිහා බැලුවා ම ඈත හොඳට පෙනෙනවා.

නැවේ උඩ තට්ටුවේ හිට ගෙනැ දුර දක්නයෙන් ඈත බලන නාවිකයා නැව පැදවීමට උදව් දෙනවා: "වම් පැත්තෙන් බෝට්ටුවකි! ඉදිරියෙන් ගොඩ බිම ය!"

"ඔන්න මුණුපුරෝ, නුඹ ත් ඈත බලා ලා පේන දේ ගැන මට විස්තර කරපන්!" සීයා මට කියුවා.

මම වටපිට බලනවා, ඈත බලනවා, පෙනෙන දේ ගැන සීයාට කියනවා: "වම්

පැත්තෙන් ගුවන් යානයක් පියාඹනවා! ගහේ අත්තක වහලා ඉන්න වී කුරුල්ලෙක් හොටෙන් පිහාටු සුද්ද කරනවා!''

මගේ පුංචි දුර දක්නය බොහොම අපූරු යි. නමුත් මට සීයා කියාපු කතා අනුව දුරේක්ෂය සමග සමාන කරන්නට බැහැ.

දුරේක්ෂය හෙවත් ටෙලස්කෝප් යන්ත්‍රය අනුදක්න බටයට සමාන යි. නමුත් එය විශාල යි. ඒ වගේ ම බර යි. ඇතින් අල්ලා ගෙනැ එයින් බැලීම බොහොම අපහසු යි. දුරේක්ෂය කාල තුවක්කුවට සමාන යි. කාල තුවක්කුවකට වගේ ම එයට එහි බර උසුලන පාද තියෙනවා. මේ දුරේක්ෂ යන්ත්‍රවලට සවි කර තිබෙන කාච බොහොම බලසම්පන්න යි. අහසේ ඈත තියෙන ග්‍රහ තරු පවා එයින් බලන්නට පුළුවනි.

තවත් ටිකක් ලොකු වුනා ම මම සීයා ත් එක්ක ආකාශ වස්තු පරීක්ෂණාගාරයට ගිහිල්ලා දුරේක්ෂයෙන් අහසේ ග්‍රහ තරු බලනවා. හඳහාමිව ත් බැලීමට මම අමතක නො කරමි. හඳේ ඇති කඳු, කාන්තාර, වියලි දූලි සහිත මුහුදු හොඳට බලා ගන්නවා. දුරේක්ෂය හෙවත් දුර දක්නය ඈත තියෙන දේ ළං කරලා පෙන්වන නිසා.



විවිධ
අණ්වීක්ෂ වර්ග



# මොක ද ? මන් ද ? මක් නිසා ද ?

මම හැමදා ම සීයා ගෙන් ප්‍රශ්න කරනවා:

"සීයේ, පූසා ඤාව් ගාන්නේ මොක ද? සුළං හමන්නේ මන් ද? මගේ නහයේ වසන්ත ලප ඇති වුනේ මක් නිසා ද?"

මොක ද, මන් ද, මක් නිසා ද?

සීයා පුදුමයට පත් වෙනවා:

"මුණුපුරා මුළු දවස තිස්සේ ප්‍රශ්න අහනවා නේද?"

අනේ මා දන්නේ නැහැ මගේ කටින් නිතර ම මොක ද? මන් ද? මක් නිසා ද? කියලා ප්‍රශ්න පිටවෙන හේතුව.

ඔන්න සීයා අද 'ඇස් කණ්ණාඩි' කියලා කිව්වා විතර යි මම ප්‍රශ්න කළා: "ඒවාට ඇස් කණ්ණාඩි කියන්නේ මක් නිසා ද?"

"ඒවා ඇස්වලට අඳින නිසා. අද අපි පාසල යමු" සීයා කියුවා.

"පාසලට යන්නේ මක් නිසා ද?"

"නුඹේ අයියණ්ඩි යූරා ඊයේ පාඩම් වලට ලකුණු බින්දුවක් ලබාපු නිසා."

සීයා යූරාට උගන්වන ගුරුවරිය සමග කතා කරන තුරු මම පන්තිය දිහා හොඳට බලන්නට පටන් ගත්තා. ඒ වේලාවේ දී ළමයින් පන්තියේ හිටියේ නැහැ. මේසය උඩ පාද සහිත දිග බටයක් තියෙන සැටි මා දුටුවා.

ගුරුතුමිය සමග කතා කරලා සීයා ආවේ කනගාටුවෙන්. මම ආයෙමත් ප්‍රශ්න අහන්නට පටන් ගත්තා:

"අන්න අතන පාද සහිත බටයක් තියෙන්නේ මක් නිසා ද?"

"ඒක පාද සහිත බටයක් නො වෙයි. ඒ තම යි අණ්වීක්ෂය (අණු දක්නය). පුංචි දේ ලොකු කර පෙන්වන මයික්‍රස්කෝප් යන්ත්‍රය. පුංචි දේ ලොකු කර පෙන්වනවා විතරක් නො වෙයි, ඇහැට නො පෙනෙන දේ පවා පෙන්වනවා. නුඹට බලන්නට කැමති ද?"

කැමති ද කියලා අහනවා! අපි යූරා ගේ ගුරුතුමිය ගෙන් අවසර අරගෙනැ පන්ති කාමරයට ගියා.

අණු දක්නයේ බටය පුංචි යි. එය පහළට හරවා තියෙනවා. මැද තිබෙන වටකුරු සිදුරක් දෙස බටයෙන් බලන්නට ඕන. ඒ සිදුරට යටින් පුංචි වටකුරු කණ්ණාඩියක් තිබේ.

සීයා සිහින්, දිගැති වීදුරු කෑල්ලක් ගෙනැ අසල තිබුණ බෝතලයකින් එයට යමක් වත් කොටැ, ඒ වීදුරු කැබැල්ල කුඩා වටකුරු සිදුරට ඉහළින් තබා බටයේ කාචය එය දෙසට හරවා, ඉහළ කොණට ඇසක් තබා ගෙනැ, බටය ඉහළ-පහළ යවමින්, අණු දක්නයේ පහළ සවි කර ඇති රවුම් කණ්ණාඩිය කරකැවී ය.

"සීයා පුංචි කණ්ණාඩිය හරවන්නේ මන් ද?" නැවත මම ප්‍රශ්න ඇසීම පටන් ගතිමි.

"කණ්ණාඩියේ ආලෝකය වීදුරු කෑල්ල උඩ තියෙන ජල බින්දුවට වැටෙන්නට මම වෑයම් කරනවා" යැයි සීයා කියුවා. "එහෙම එළිය වැටුනේ නැති නම් කිසි දෙයක් පෙනෙන්නේ නැහැ. ඔන්න දැන් හරියට බින්දුවට එළිය වැටෙනවා. දැන් වතුර බින්දුව දිහා බලාපන්. ඉස්සෙල්ලා නිකම් බලාපන්."

මා බින්දුව දෙස බැලුවා. ඒක නිකම් වතුර බින්දුවක් විතර යි.

එහෙත් පසුව බටයෙන් බැලුවා විතර යි මට බය හිතුනා. බින්දුව වෙනුවට මහා ලොකු ජලාශයක්. මයිල් තියෙන මොකුන් දෝ සතුන් වගයක් ඒ ජලාශයේ පීනනවා.

එහෙම පීනන පුංචි එවුන් හරියට චූටි සෙරෙප්පු වලට සමාන යි. උන් ගේ නම තුන් තුඹුවා. උන් ගේ හැටි බොහොම බයානක වුනාට උන් මිනිසුන්ට ලෙඩ රෝග බෝ කරන්නේ නැහැ. නමුත් ඇහැට නොපෙනෙන ක්ෂුද්‍ර ප්‍රාණීන් හෙවත්

මයික්රෝබ්ලා මිනිසාට නපුරු ලෙඩ රෝග බෝ කරනවා. අපිරිසිදු ඇල් වතුර බිව්වොත්, ඔය මයික්රෝබ්ලා මහා විසාල ගණනක් වතුරත් සමග බඩට වැටෙනවා. ඔන්න එවිට අසනීප වීමට ඉඩ තියෙනවා.

... මා සීයා සමග පාසලේ ඉඳලා ගෙදර ගියත් අණු දක්නය ගැන ත්, මයික්රෝබ්ලා ගැන ත් අමතක කිරීමට මට නො හැකි වුනා. ඊළඟට මා කල්පනා කළේ යූරා ගැන. යූරාට හොඳට ඉගෙන ගන්නට බැරී, ඉගෙන ගැනීමට බාධා කරන මයික්රෝබ්ලා යූරා ගේ ඇඟට ඇතුළු වෙච්ච නිසා ද? අණු දක්නයෙන් යූරාව හොඳ හැටි බලා ලා ඉගෙන ගැනීමට බාධා කරන මයික්රෝබ්ලා හිටියොත් උන්ව එළියට ඇද දමලා එයාව සනීප කරන්නට බැරි ද?

මම ඒ ගැන සීයා ගෙන් ඇහුවා. සීයා මහ හඬින් හිනා වුනා.

"අපේ යූර්කා වතුර බින්දුවක් ද? නැතිනම් මල් පෙත්තක් ද, එහෙම ත් නැතිනම් ගහක කොළයක් ද? මිනිසුන්ව අණු දක්නයකින් බලන්නට බැහැ. නුමුත් අපේ යූරා ගේ කෙස් ගහක්, නියපොත්තක්, ලේ බින්දුවක් වගේ දේ අණු දක්නයෙන් බලන්නට පුළුවනි. යූරා ගේ මොලය ඇතුලේ ඉගෙන ගැනීමට බාධා කරන ක්ෂුද්‍ර ජීවින් ඉන්න බව අණු දක්නයක් නැතිව වුනත් පේනවා. ඒකට කමක් නැහැ. මම එයාට යසට බෙහෙත් කරන්නම්!" සීයා කියුවා.

# බුරතීනො ගේ කතාව

මගේ උපන් දිනේට තාත්තා මට බුරතීනො ගේ කතාව තියෙන පොත තෑගි දුන්නා. බුරතීනො නැමැති ලී බෝනික්කා, එයා ගේ මිතුරන් වන මල්වීනා, පියෙරෝ, අර්තෙමොන් බලු පැටියා, ඔහු ගේ හතුරන් වන නපුරු කරබාස්-බරබාස්, අලීසා හිවලිය සහ බැසීලියෝ බළල් තඩියා ගැන මම ඒ පොතින් දැන ගත්තා.

මුලින් ම මා ඒ ගොල්ලන් ගේ පින්තූර වලින් ඔවුන් හඳුනා ගත්තා. පසුව පණ පිටින් ම ඔවුන් දැකීමට මට හැකි වුනා.

මම යි, සීය යි නාට්‍ය ශාලාවට ගියා බුරතීනො ගේ කතන්දරය බලන්නට.

අපට ලැබුණු ආසන කිසි කමකට නැහැ, නාට්‍ය වේදිකාවෙන් බොහොම ඈත, ශාලාවේ අනික් කෙළවරේ බිත්තිය ළඟ. බුරතීනො කරන වැඩ දකින අනික් ළමයින් හිනා වෙනවා, සතුටු වෙනවා. කරබාස්-බරබාස් ගේ නපුරු කම් හන්දා කෝප වෙනවා. මම වාඩි වෙලා ඔහේ බැලුවට, කිසිම දෙයක් මට හරි හැටි පෙනෙන්නේ නැහැ. නාට්‍ය වේදිකාවේ වෙන කිසිම හරි හැටියට නො පෙනෙන නිසා මට ඇඬෙන්න තරම් දුකක් සිතුනා.

සීයාට පින් සිදු වන්නට මට නාට්‍යය බැලීමට පුළුවන් වුනා. ඔහු මට දෙනෙති දුර දක්නයක් දුන්නා. ඒක ත් තරමක් දුරට ඇස් කණ්ණාඩිවලට සමාන යි.

එය බට දෙකක් එකට සවි කළ උපකරණයකි. දෙපැත්තේ ම වීදුරු කාච සවි කරලා ය. එක් පැත්තක කාච කුඩා ය, අනික් පැත්තේ කාච විශාල ය.

ඉස්සෙල්ලා සීයා දෙනෙති දුර දක්නයෙන් බලා පසුව එය මට දුන්නා. මම සතුටු වෙලා පුංචි කාච වලින් නාට්‍ය වේදිකාව දෙස බැලුවා... කිසිම් දෙයක් පෙනෙන්නේ නැහැ. බුරතීනො කොහේ ද, මල්වීනා කොහේ ද!.. මගේ ඇස්



ඉදිරිපිට වට රවුම් දෙකක් දිලිසෙනවා විතර යි.

දෙනෙති දුර අක්නයෙන් හරි හැටි බලන්නට බැරි ව මම ලතැවෙන හැටි සීයා දැකලා මෙහෙම සෙමින් කියුවා:

"ඔය බට දෙකට මැදින් තියන පුංචි රෝදය කරකවාපන්. එතකොට හොඳට පෙනේ වි."

මම ඒ රෝදය පොඩ්ඩක් කරකවාපු හැටියේ ම ඇස් ඉදිරිපිට තිබ්බව ලප දෙක අතුරුදහන් වෙලා බොහොම පැහැදිලි ලෙස බුරතිනොව දැක්කා. එයා මා ළඟ ම ඉන්නවා වගෙ යි.

මගේ සතුට වැඩි වෙලාවක් තිබුණේ නැහැ. හිටි හැටියේ ම මගේ මූණ ළඟින් ම නපුරු කරබාස්-බරබාස් ගේ බයානක මුහුණ මට පෙනුනා. ඒ මුහුණේ මයිල් ගොඩකි, ඔහු ගේ නැහැය මහ විසාල යි, කට ඇදවෙලා. මම බය වෙලා ඇස් දෙක වහ ගත්තා.

"අනේ සීයේ, මේ කණ්ණාඩි මට එපා, මට බය යි."

"දෙනෙති දුර අක්නයේ ලොකු කාච වලින් කරබාස් දිහා බලාපන්. එතකොට එයාව පුංචියට පෙනේ වි."

සීයා කියාපු හැටියට මම බැලුවා විතර යි, මට නපුරු කරබාස්ව පුංචියට පෙනුනා. ඔහු ඈත ඉන්නවා වගෙ යි. එයා ගෙ හැටි නිසා මට පොඩ්ඩක් වත් බය සිතුනේ නැහැ.

ඉතින් මම ඔය විදිහට මගේ මිතුරන්ව කුඩා දේ ලොකු කරන කාචයෙන් බැලුවා: බුරතීනො, මල්වීනා, අර්තෙමොන් බලු පැටියාව එහෙම බැලුවා. ඒ ගොල්ල මා ළඟින් ම ඉන්නවා වගෙ යි. මම අකැමැති කරබාස් බරබාස්, අලීසා හිවලිය, බැසීලියෝ බළල් තඩියා ලොකු දේ පුංචි කරන කාචයෙන් බැලුවා. එතකොට ඒ ගොල්ලන්ව මට පෙනුනේ කුඩාවට, ඒ වගේ ම බොහොම ඈතින් ඉන්නවා වගෙ යි.

සීයා හිනාවෙලා මට මෙහෙම කියුවා: "මුණුපුරා හරී ම දක්ෂ යි නෙව, නියම අන්දමට බලන සැටි හොයා ගෙන." එදා ඉඳලා සීයා මා වරදක් කළ හැටියේ ම මා දිහා බලන්නේ ලොකු දේ කුඩාවට පෙන්වන කාචවලින්.

මම ඉවසා ගෙනැ ඉඳලා පසු ව මෙහෙම කියනවා: "සීයේ මට සමාවෙන්න. මීට පස්සේ මම වැරදි කරන්නේ නැහැ. මාව මිතුරන් බලන හොඳ කණ්ණාඩිවලින් බලන්න!"



# හොඳ ම කණ්ණාඩි මොනවා ද ?

සීයා ගේ පරණ ඇල්බම් පොතේ නිර්භීත නාවිකයකු ගේ ඡායා රූපයක් මම දැක්කා. එයා ගේ නාවික තොප්පිය සුදු පාට යි. එහි පීත්ත පටි දෙක කළු පාට යි. ඒවායේ රන්වන් පාට නැංගුරම් සලකුණු තියෙනවා. උරපටිවල තරු ලකුණු තියෙනවා. අත්වල පදවිය පෙන්වන පටි තියෙනවා. පපුව පුරා යුද්ධ කාලෙදි ලැබූ පදක්කම්.

"මේ කවු ද?" මම සීයා ගෙන් ඇහුවා.

"මේං බලාපල්ලා කෙරුවාවක හැටි. මුණුපුරාට බැහැ සීයාව හඳුනාගන්න!"

මම හොඳට බලාපුවා ම ඒ සීයා බව පෙනුණා. දැන් වගේ මහලු කෙනෙක් නො වෙයි, තරුණ යි. උඩු රැවුළ දැන් වගේ පැහිලා නැහැ, කළු පාට යි. ඇස් වටේට දැන් වගේ රැළි ගැසිලා නැහැ. ඇස්වල පෙනුම ප්‍රීතිමත්.

මගේ තරුණ සීයා අසලින් උසැති බටයක් තියෙනවා.

"මේ මොකක් ද?"

"මොකක් ද? මේ තම යි මගේ ඇස් කණ්ණාඩි. අපි පැසිස්ට් ජර්මන් හමුදාවලට විරුද්ධ ව යුද්ද කරපු කාලේ මට ඒවා බොහොම හොඳින් සේවය කළා. ඒ කාලේ මම දිය යටින් යන සබ්මැරීන් නැවක සේවය කළා."

"අනේ සීයේ, විස්තර කරන්නකෝ," කියලා මම ඉල්ලා හිටියා. ඔන්න ඉතින් සීයා කතාව කියන්නට පටන් ගත්තා.

ඒ නැවට සබ්මැරීන් කියලා කියන්නේ එය හරියට මාළුවකු වගේ දිය යටින් යන නිසා.

අනිත් යුද්ධ නැව් සේර ම, ක්‍රූසර් යුද්ධ නැව් සහ ඩිස්ට්‍රෝයර් නැව් සියල්ල මුහුදේ ජලය මතු පිට යාත්‍රා කරනවා. නමුත් සබ්මැරීන් නැව මතු පිටට එන්නේ බොහොම කලාතුරකින්. නිතර ම එය මූදේ යටට වෙලා මාළුවන් ගේ ලෝකයේ ඉන්නවා. ඕනකමක් වුන හැටියේ ම මුහුද පතුලට ගිහිල්ල කකුළුවන් ළඟට වෙලා ඉන්නවා. නැවත මතු පිටට පැමිණීමට අවසර දෙන තුරු මුහුදු පතුලට වෙලා ඉන්නවා.

සබ්මැරීනය මුහුද යටට ගියා ම කාටවත් පෙනෙන්නේ නැහැ. නමුත් එයට අනික් නැව් සේර ම හොඳට පෙනෙනවා.

සබ්මැරීනයට මුහුද යට ඉඳලා මතු පිට බැලීමට විශේෂ කණ්ණාඩි තියෙනවා. එය පරීක්ෂය නැතිනම් පෙරිස්කෝප් නමින් හඳුන්වනවා. පාරි දර්ශකය කියන නමින් ද මේ අපූරු උපකරණය ප්‍රසිද්ධ යි.

සබ්මැරීනය දිය යට තිබුණට පෙරිස්කෝපයේ දිගැති බට, එහි කාච සහිත කවුළු වැනි අග ජල මතු පිටට දමනවා. ඉතින් මේ කවුළු වැනි කාචවලට මුහුද මතු පිට සියලු දේ හොඳට පෙනෙනවා. සබ්මැරීනය ඇතුලේ ඉන්න නාවිකයා බටයේ පහළ කෙළවරින් බලන විට ඔහුට හැම දෙයක් ම පෙනෙනවා. ඔහුට මේ බටය වටේට කරකවා බලන්නට පුළුවනි.

ඉතින් මගේ සීයා තරුණ කාලෙදි සේවය කළේ ඔවැනි සබ්මැරීන් නැවක යි. ඔහු නිතර පෙරිස්කෝපයෙන් බැලුවා.

පැසිස්ට් සතුරා ගේ කෲසර් යුද්ධ නෞකාවක් සොයා එය විනාශ කරන ලෙස දවසක් දා සීයාට අණ ලැබුණා. මේ විනාශකාරී නෞකාව ගැන හෝදිසියෙන් සෝවියට් නාවිකයෝ වැඩ කළා.

එදා උදේ පාන්දරින් ම සීයා ගේ සබ්මැරීනය මුහුද යටට ගිහිල්ලා පෙරිස්කෝප් හෙවත් පාරි දර්ශකයෙන් හැම



තැන ම බැලුවා. අවට හැම තැන ම මුහුදු රැල්ල හා පෙණ බුබුළු විතර යි.

ඊළඟ දවසේ දී මුහුදේ ඉතා ඈත, අහස ත් මුහුද ත් එකට එක්වන ක්ෂිතිජයේ පුංචි තිතක් වගේ යමක් පෙනුණා. මේ තිත ළං වත්, වත් ම එය යෝධ නැවක් බවට පරිවර්තනය වුනා. සතුරා ගේ එම නැව හදලා තියෙන්නේ බොහොම ඝණකම ඇති වානේ තහඩුවලින්. ඒකට වෙඩිල්ලක් යවා, එය පුපුරවා දැමීම ලෙහෙසි නැහැ. නැව වටේට කාල තුවක්කු. ඒවා දිහා බලන්නට පවා බයක් හිතෙනවා.

"ආ, තෝ පැසිස්ට්වාදී සතුරා අහුවුණා ද! දන් ඉතින් නුඹට ගැළවීමක් නැහැ!" සීයා එහෙම සිතන්නට වුනා. සීයා සේවය කරන සබ්මැරීන් නෞකාවට අණ ලැබුනා සතුරා ගේ යුද්ධ නැව විනාශ කරන්නට.

උල් හොටක් වැනි තුඩක් සහිත ටෝපිඩෝ වෙඩිල්ල සතුරු නැව දෙසට යන සැටි සීයා පාරි දර්ශකයෙන් බලාගෙන හිටියා. ටෝපිඩෝ වෙඩිල්ල දිය දෙබෑ කර ගෙනැ නැවට ළං වුනා. මහා හඬක් පිට කරමින් නැව පුපුරා දිය යට ට ගිලුණා. එය වටේට කළු රතු පාට ඉරි වලා ඇති වුනා.

"මෙන්න ඒ නැව ගිල්ලපු නිසා අපට ලැබුණු පදක්කම" සීයා එහෙම කියලා ඔහු ගේ ඡායා රූපයේ පපුවේ ඇලෙන තියෙන රතු තරුව පෙන්නුවා. තවත් පදක්කම් කීපයක් ම එතැන තියෙනවා.

... මට බොහොම ආශා හිතුනා පාරි දර්ශකය හෙවත් පෙරිස්කෝපයට. මම තරුණයකු වුනා ම සීයා වගේ පාරි දර්ශකයෙන් අවට බලමින් අපේ රට සතුරන් ගෙන් රැක ගැනීමට මම බොහොම කැමති යි...

එහෙම ත් නැතිනම් මා කැමැති යි බොහෝ දුර පෙනෙන දුර දර්ශනයෙන් අහසේ ග්‍රහ තරු බලන්නට.

එසේ ත් නැතිනම් මම ආශා කරන්නේ අණු දක්නයෙන් ඉතා කුඩා මයික්‍රෝබ ජීවීන් හොයන්නට යි...

කොහොම වුනත් වැඩියෙන් ම මම කැමති මොනවාට ද කියන එක මං දන්නේ නැහැ!..

## පාඨකයින් වෙත

මෙම පොතෙහි අඩංගු කරුණු, අනුවාදය හා මුද්‍රණය පිළිබඳ ව ඔබ ගේ අදහස් දන්වා එවීමෙන් රාදුගා ප්‍රකාශකයන් ගේ කෘතඥතාව ඔබට හිමි වේ. ඔබ ගේ වෙනත් යෝජනා ඇතොත් අපි එය කරුණාවෙන් බාර ගනිමු.

අපේ ලිපිනය:

Raduga Publishers,
17, Zubovsky Boulevard,
Moscow, USSR

ශ්‍රී ලංකාවේ බෙදාහරින්නෝ:
පී/ස මහජන ප්‍රකාශකයෝ (පීපල්ස් පබ්ලිෂිං හවුස් ලිමිටඩ්).
124, කුමාරන් රත්නම් පාර, කොළඹ-2

**Г. Юрмин**

ДЕДУШКИНЫ ОЧКИ

*на языке синхала*



Ю $\frac{4803010102-107}{031(05)-86}$ 279–86

**ISBN 5-05-000910-3**

